43966

OL/2021(2022)/64/S-I, II





**64 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)
**General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)**

**දෙවන බස - සිංහල I, II**
இரண்டாம் மொழி - சிங்களம் I, II
Second Language - Sinhala I, II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
*Three hours*

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

**අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේ දී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදා ගන්න.**

வினாப்பத்திரத்தை வாசித்து, வினாக்களைத் தெரிவுசெய்வதற்கும் விடை எழுதும்போது முன்னுரிமை வழங்கும் வினாக்களை ஒழுங்கமைத்துக் கொள்வதற்கும் மேலதிக வாசிப்பு நேரத்தைப் பயன்படுத்துக.

**Use additional reading time to go through the question paper, select the questions you will answer and decide which of them you will prioritise.**

## දෙවන බස - සිංහල I  இரண்டாம் மொழி - சிங்களம் I  Second Language - Sinhala I

**උපදෙස්:**

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) උත්තරවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ උත්තරය තෝරා ගන්න.
* ඔබට සැපයෙන උත්තර පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරා ගත් උත්තරයෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.
* එම උත්තර පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**அறிவுறுத்தல்கள்:**

* எல்லா வினாக்களுக்கும் விடை எழுதுக.
* **1** தொடக்கம் **40** வரையுள்ள வினாக்கள் ஒவ்வொன்றிலும். (1), (2), (3), (4) என எண்ணிடப்பட்ட விடைகளில் சரியான அல்லது மிகப் பொருத்தமான விடையைத் தெரிவுசெய்க.
* **உமக்கு வழங்கப்பட்டுள்ள விடைத்தாளில் ஒவ்வொரு வினாவுக்கும் உரிய வட்டங்களில் உமது விடையின் எண்ணை ஒத்த வட்டத்தினுள்ளே புள்ளடியை (X) இடுக.**
* அவ்விடைத்தாளின் மறுபக்கத்தில் தரப்பட்டுள்ள மற்றைய அறிவுறுத்தல்களையும் கவனமாக வாசித்து, பின்பற்றுக.

**Instructions:**

* *Answer **all** questions.*
* *In each of the questions from **1** to **40**, pick one of the alternatives (1), (2), (3), (4) which you consider is **correct or most appropriate**.*
* ***Mark a cross (X) on the number corresponding to your choice in the answer sheet provided.***
* *Further instructions are given on the back of the answer sheet. Follow them carefully.*

● අංක **1** සිට **5** තෙක් ප්‍රශ්නවල, **තද කළු අකුරෙන්** මුද්‍රිත පදය වෙනුවට යෙදිය හැකි වඩාත් සුදුසු පද යුගලය තෝරන්න.
**1** தொடக்கம் **5** வரையுள்ள வினாக்களில் **தடித்த எழுத்தில்** தரப்பட்டுள்ள சொற்களுக்குப் பதிலாக இடத்தக்க மிகவும் பொருத்தமான சொற்சோடியைத் தெரிவுசெய்க.
Select the most suitable pair of words for the word printed in **bold letters** in questions from No. **1** to **5**.

**1.** මම ඔයාලට කතා කරන ශබ්දය **ඇහෙන්නැද්ද**?
(1) ඇහෙන්න නැද්ද (2) ඇහෙන නැද්ද (3) ඇහෙන්නෙ නැද්ද (4) ඇහෙන්නැ නැද්ද

**2.** මේ බිත්තියේ තීන්ත **ගාන්නෝනැ**.
(1) ගාන් ඕනැ (2) ගාන්න ඕනැ (3) ගාන ඕනැ (4) ගාන්න ඕනැ

[ 2 වැනි පිටුව බලන්න / பக். 2 ஐப் பார்க்க / see page two

**3.** ඔයාගේ ඇස් **පොඩිකරන්නෙපා.**
(1) පොඩිකරන්නෙ එපා (2) පොඩිකරන්න එපා (3) පොඩිකරනවා එපා (4) පොඩිකරනෙ එපා

**4.** මට ෆාමසියෙන් **බෙහෙතග්ගේන්න** පුළුවන් ද?
(1) බෙහෙතක් ගේන්න (2) බෙහෙත ගේන්න (3) බෙහෙතග් ඒන්න (4) බෙහෙත් ගේන්න

**5.** මල්ලි, වතුර අපතේ යවන්න එපා. ඉක්මනට **ටැප්පෙක** වහන්න.
(1) ටැප් ඒක (2) ටැප්ප එක (3) ටැප් එක (4) ටැප් කෙක

- අංක **6** සිට **10** තෙක් ප්‍රශ්නවල දී ඇති පද අතුරෙන් **නිවැරදි උච්චාරණය** සහිත උත්තරය තෝරන්න.
**6** தொடக்கம் **10** வரையான வினாக்களில் தரப்பட்டுள்ள சொற்களில் **சரியான உச்சரிப்பைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the answer with **correct pronunciation** from the words given in questions from No. **6** to **10**.

**6.** (1) බැලුවා (2) බෙලුවා (3) බලුවා (4) පලුවා

**7.** (1) පන්දිය (2) පන්තිය (3) පන්නිය (4) පත්තිය

**8.** (1) තෙල් ඩැංකිය (2) දෙල් ටැංකිය (3) තෙල් ටැංකිය (4) තෙල් දැංකිය

**9.** (1) පාඩමාලාව (2) පාඪමාලාව (3) පාඨමාලාව (4) පාඞමාලාව

**10.** (1) කහ පාට (2) කග පාට (3) කහ පාඩ (4) කහ බාඩ

- අංක **11** සිට **14** තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය සඳහා **වඩාත් ගැළපෙන** ප්‍රශ්නය තෝරන්න.
**11** தொடக்கம் **14** வரையான ஒவ்வொரு கூற்றுக்கும் **மிகப்பொருத்தமான** வினாவைத் தெரிவுசெய்க.
Select the **most appropriate** question for each statement given from No. **11** to **14**.

**11.** ළමයි වැව අසල සෙල්ලම් කරනවා.
(1) ළමයින් සෙල්ලම් කරන්නේ කා සමග ද? (2) ළමයින් සෙල්ලම් කරන්නේ ඇයි?
(3) ළමයින් සෙල්ලම් කරන්නේ කවදා ද? (4) ළමයින් සෙල්ලම් කරන්නේ කොහේ ද?

**12.** රගු අඹ ගහට ගල් ගැසුවා.
(1) රගු ගල් ගැසුවේ ඇයි? (2) රගු ගල් ගැසුවේ මොකේට ද?
(3) රගු ගල් ගැසුවේ කාට ද? (4) රගු ගල් ගැසුවේ කොහොම ද?

**13.** ළමයි ක්‍රීඩාපිටියට ගියා.
(1) ළමයින් ගියේ කොහෙන් ද? (2) ළමයින් ගියේ ඇයි?
(3) ළමයින් ගියේ කොහාට ද? (4) ළමයින් ගියේ කොයි වෙලාවෙ ද?

**14.** රවීට හෙට උදේ බස් එකට එන්න කියනවා.
(1) රවීට බස් එකට එන්න කියන්නේ කොහොම ද? (2) රවීට බස් එකට එන්න කියන්නේ කවු ද?
(3) රවීට බස් එකට එන්න කියන්නේ ඇයි? (4) රවීට බස් එකට එන්න කියන්නේ කොයි වෙලාවෙ ද?

- අංක **15** සිට **17** තෙක් ප්‍රශ්නවල **නිවැරදි ව අකුරු** යෙදී ඇති උත්තරය තෝරන්න.
**15** தொடக்கம் **17** வரையான வினாக்களில் **சரியான எழுத்துக்கூட்டலைக்** கொண்ட சொல்லைத் தெரிவுசெய்க.
Select the answer with **correct spellings** in questions from No. **15** to **17**.

**15.** (1) අධිකාරිතුමා (2) අදිකාරිතුමා (3) අධිබාරිතුමා (4) අදිබාරිතුමා

**16.** (1) කාලගුනය (2) කාලගුණය (3) කාළගුනය (4) කාළගුණය

**17.** (1) ශිස්සත්වය (2) ශිශ්ෂත්වය (3) ශිෂ්‍යත්වය (4) ශිස්ෂ්‍යත්වය

- අංක **18** සිට **20** තෙක් ප්‍රශ්නවල **නොගැළපෙන** පදය තෝරන්න.
**18** தொடக்கம் **20** வரையான வினாக்களில் **பொருத்தமற்ற** சொல்லைத் தெரிவுசெய்க.
Select the **inappropriate** word in questions from No. **18** to **20**.

**18.** (1) අම්මා (2) බාප්පා (3) අක්කා (4) නංගි

**19.** (1) බල්ලා (2) බළලා (3) ගවයා (4) කුකුළා

**20.** (1) සිංහල (2) දෙමළ (3) බෞද්ධ (4) මුස්ලිම්

[ 3 වැනි පිටුව බලන්න / பக். 3 ஐப் பார்க்க / *see page three*

- අංක **21** සිට **23** තෙක් ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **සමානාර්ථයක් දෙන පදය** තෝරන්න.
**21** தொடக்கம் **23** வரையான வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **ஒத்தகருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
Select the **synonym** for the word given at the beginning in questions from No. **21** to **23**.

**21.** වනාන්තරය : (1) කැලෑව (2) වන්නිය (3) පඳුර (4) පර්වතය

**22.** උදව්ව : (1) අසනීපය (2) උපමාව (3) අසරණකම (4) උපකාරය

**23.** කම්මැළි : (1) කඩිසර (2) කීකරු (3) අලස (4) කටුක

- අංක **24** සහ **25** ප්‍රශ්නවල මුලින් දී ඇති පදයට **විරුද්ධාර්ථයක් දෙන පදය** තෝරන්න.
**24, 25** ஆகிய வினாக்களில் ஆரம்பத்தில் தரப்பட்ட சொல்லுக்கு **எதிர்க்கருத்தைத் தரும் சொல்லைத்** தெரிவுசெய்க.
Select the **antonym** for the word given at the beginning in questions No. **24** and **25**.

**24.** තෙත් : (1) වතුර (2) වියළි (3) කුඹුර (4) මඩ

**25.** ළඟ : (1) සුළඟ (2) මෑත (3) දුර (4) යට

- අංක **26** සිට **28** තෙක් එක් එක් ප්‍රශ්නයේ දී ඇති පින්තූරය සඳහා **වඩාත් ගැළපෙන අදහස** දැක්වෙන වරණය තෝරන්න.
**26** தொடக்கம் **28** வரையான ஒவ்வொரு வினாவிலும் தரப்பட்டுள்ள படத்துக்கு **மிகப் பொருத்தமான கருத்தைத்** தரும் விடையைத் தெரிவுசெய்க.
Select the option that gives the **most suitable idea** for the picture given in each question from No. **26** to **28**.

**26.**



(1) දුම්රිය ගේට්ටුව
(2) ඇතුළුවීම තහනම්
(3) මාර්ගය වසා ඇත
(4) පාර හරහා මාරුවන ස්ථානය

**27.**



(1) කැමරා විකිණීම තහනම්
(2) ඡායාරූප ශාලාව ඉදිරියෙනි
(3) ඡායාරූප ගැනීම තහනම්
(4) කැමරා මෙතැන තබා යන්න

**28.**



(1) දිය නෑම තහනම්
(2) ක්‍රීඩා කරන ස්ථානය
(3) පිට වීම තහනම්
(4) ලිස්සනසුලු ය

- අංක **29** සහ **30** ප්‍රශ්නවලට **ගැළපෙන උත්තරය** තෝරන්න.
**29, 30** ஆகிய வினாக்களுக்குப் **பொருத்தமான விடையைத்** தெரிவுசெய்க.
Select the **suitable answer** for questions No. **29** and **30**.

**29.** තමා උපන් රට
(1) ජාත්‍යන්තරය (2) පිටරට (3) මව්බිම (4) දෙරණ

**30.** පයින් ගමන් කරන පුද්ගලයා
(1) පදිකයා (2) රියදුරා (3) කම්කරුවා (4) පාපැදිකරුවා

[ 4 වැනි පිටුව බලන්න. / பக். 4 ஐப் பார்க்க / *see page four*

● අංක **31** සහ **32** ප්‍රශ්නවල වාක්‍ය දෙක බැගින් දී ඇත. එම වාක්‍ය දෙක එක් වාක්‍යයක් ලෙස **නිවැරදි ව** සම්බන්ධ කර **ලියා ඇති වාක්‍යය** තෝරන්න.
**31, 32** ஆகிய வினாக்களில் இரு வாக்கியங்கள் தரப்பட்டுள்ளன. அந்த இரு வாக்கியங்களையும் **சரியாக** இணைத்து ஒரு வாக்கியமாக்கி **எழுதப்பட்டுள்ள வாக்கியத்தைத்** தெரிவுசெய்க.
In questions No. **31** and **32,** two sentences each are given. Select the **sentence** that **correctly** combines the two sentences.

**31.** කුණාටුවක් හමා ගියේ ය. මහ ගසක් ඇද වැටිණ.
(1) කුණාටුවක් හමා ගියා නම් මහ ගසක් ඇද වැටිණ.
(2) කුණාටුවක් හමා ගියොත් මහ ගසක් ඇද වැටිණ.
(3) කුණාටුවක් හමා වි නම් මහ ගසක් ඇද වැටිණ.
(4) කුණාටුවක් හමා ගිය නිසා මහ ගසක් ඇද වැටිණ.

**32.** අක්කා මල් පැළ රැගෙන ආවා ය. ඇය ඒවා පාත්තියක සිටවූවා ය.
(1) අක්කා මල් පැළ රැගෙන ඒවා පාත්තියක සිටවූවා ය.
(2) අක්කා මල් පැළ රැගෙන ආවොත් ඒවා පාත්තියක සිටවූවා ය.
(3) අක්කා මල් පැළ රැගෙන විත් ඒවා පාත්තියක සිටවූවා ය.
(4) අක්කා මල් පැළ රැගෙන ආ ඒවා පාත්තියක සිටවූවා ය.

● අංක **33** සහ **34** ප්‍රශ්නවල හිස්තැනට **වඩාත් සුදුසු උත්තරය** තෝරන්න.
**33, 34** ஆகிய வினாக்களிலுள்ள இடைவெளிக்கு **மிகவும் பொருத்தமான சொல்லைத்** தெரிவுசெய்க.
Select the **most suitable answer** to fill in each blank in questions No. **33** and **34**.

**33.** මල්ලී ...................................... දිග හැර ගෙන කියවන්නට පටන් ගත්තේ ය.
(1) පත්තරයක් (2) පත්තරයකට (3) පත්තරයකින් (4) පත්තරයක

**34.** රමීෂ් ගීතයක් ...................................... නර්තනයක යෙදුණේ ය.
(1) ගායනා කළොත් (2) ගායනා කිරීමට (3) ගායනා කරමින් (4) ගායනා කිරීමෙන්

● අංක **35** ප්‍රශ්නයේ **කළු කර** ඇති සංඛ්‍යාව නිවැරදි ව අකුරෙන් ලියා ඇති උත්තරය තෝරන්න.
**35** ஆம் வினாவில் **தடித்த எழுத்திலுள்ள** எண் சரியான எழுத்துகளால் எழுதப்பட்டுள்ள விடையைத் தெரிவுசெய்க.
Select the answer in which the number in **bold** print has been written in letters correctly in question No. **35**.

**35.** ඇවිදින මංතීරුව මීටර **1234** ක් දිග ය.
(1) එක්දහස් දෙදහස් තිස් හතර (2) එක්දහස් දෙසිය තුන්සිය හතර
(3) එකසිය දෙසිය තිස් හතර (4) එක්දහස් දෙසිය තිස් හතර

● අංක **36** සිට **40** තෙක් එක් එක් ප්‍රශ්නයේ **ව්‍යාකරණානුකූල ව නිවැරදි** වාක්‍යය තෝරන්න.
**36** தொடக்கம் **40** வரையான ஒவ்வொரு வினாவிலும் **இலக்கணரீதியாக சரியான** வாக்கியத்தைத் தெரிவு செய்க.
Select the **grammatically correct** sentence in each question from No. **36** to **40**.

**36.** (1) අක්කාත් මල්ලීත් රූපවාහිනිය නරඹමින් සිටියා ය.
(2) අක්කාත් මල්ලීත් රූපවාහිනිය නරඹමින් සිටියේ ය.
(3) අක්කාත් මල්ලීත් රූපවාහිනිය නරඹමින් සිටියහ.
(4) අක්කාත් මල්ලීත් රූපවාහිනිය නරඹමින් සිටින්නේ ය.

**37.** (1) අපි සිංහරාජ වනාන්තරය බැලීමට ගියෙමු. (2) අපි සිංහරාජ වනාන්තරය බැලීමට ගියහ.
(3) අප සිංහරාජ වනාන්තරය බැලීමට ගියෙමු. (4) අප සිංහරාජ වනාන්තරය බැලීමට ගියෝ ය.

**38.** (1) නංගී සිනාසෙමින් අම්මා වෙත ආවේ ය. (2) නංගී සිනාසෙමින් අම්මා වෙත ආවෝ ය.
(3) නංගී සිනාසෙමින් අම්මා වෙත ආවා ය. (4) නංගී සිනාසෙමින් අම්මා වෙත ආහ.

**39.** (1) ගුරුවරු ළමයින් පොත් කියවීමට යොමු කරයි. (2) ගුරුවරුන් ළමයි පොත් කියවීමට යොමු කරති.
(3) ගුරුවරුන් ළමයින් පොත් කියවීමට යොමු කරති. (4) ගුරුවරු ළමයින් පොත් කියවීමට යොමු කරති.

**40.** (1) ළමයි දැත් සෝදා පාසලට ඇතුළු විය. (2) ළමයි දැත් සෝදා පාසලට ඇතුළු වූහ.
(3) ළමයින් දැත් සෝදා පාසලට ඇතුළු වූහ. (4) ළමයින් දැත් සෝදා පාසලට ඇතුළු විය.

**

**64 S I, II**

**අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2021(2022)**
**கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2021(2022)**
**General Certificate of Education (Ord. Level) Examination, 2021(2022)**

**දෙවන බස - සිංහල I, II**
இரண்டாம் மொழி - சிங்களம் **I, II**
Second Language - Sinhala **I, II**

**දෙවන බස - සිංහල II** **இரண்டாம் மொழி - சிங்களம் II** **Second Language - Sinhala II**

- **I** කොටසේ අංක **1** හා **2** ප්‍රශ්න ඇතුළු ව **II** කොටසින් **එක්** ප්‍රශ්නයක් ද **III** කොටසින් ප්‍රශ්න **දෙකක්** ද තෝරා ගෙන ප්‍රශ්න **පහකට** පමණක් උත්තර ලියන්න.

  பகுதி **I** இல் **1 ஆம் 2 ஆம்** வினாக்கள் உட்பட பகுதி **II** இல் **ஒரு** வினாவையும் பகுதி **III** இல் **இரு** வினாக்களையும் தெரிவுசெய்து எல்லாமாக **ஐந்து** வினாக்களுக்கு மாத்திரம் விடை எழுதுக.

  Answer only **five** questions including questions **1** and **2** in Part **I** and selecting **one** question from Part **II** and **two** questions from Part **III**.

## I කොටස / பகுதி I / Part I

**1.** දී ඇති මාර්ගෝපදේශ ඇසුරු කර ගෙන පහත දැක්වෙන මාතෘකාවලින් **එකක්** ගැන **වචන 100**ක පමණ රචනයක් ලියන්න.
பின்வரும் தலைப்புகளுள் **ஒன்றைத்** தெரிவுசெய்து அதன் கீழே தரப்பட்டுள்ள விடயங்களை அடிப்படையாகக் கொண்டு ஏறத்தாழ **100 சொற்களில்** அமையுமாறு ஒரு கட்டுரை எழுதுக.
Write an essay of about **100 words** on **one** of the following topics using the given guidelines.

(අ) සුන්දර පරිසරයක් ගොඩනගමු
- (i) හැඳින්වීම
- (ii) පරිසරය පිළිබඳ ඇති හැඟීම
- (iii) පරිසරය සුන්දර කර ගැනීමට කළ යුතු දේවල්
- (iv) ලබා ගත හැකි ප්‍රයෝජන
- (v) සමාලෝචනය

(ආ) මාර්ග නීති පිළිපදිමු
- (i) හැඳින්වීම
- (ii) මාර්ග නීති පිළිබඳ දැනුවත් වීම
- (iii) කළ හැකි කාර්යයන්
- (iv) මාර්ග නීති පිළිපැදීමෙන් ලැබෙන ප්‍රයෝජන
- (v) සමාලෝචනය

(ඉ) ගුරුවරුන්ට ගරු කරමු
- (i) හැඳින්වීම
- (ii) ගුරුවරුන්ට ගරු කළ හැකි ආකාරය
- (iii) ජීවිතයට ලැබෙන වටිනාකම
- (iv) ලබා ගත හැකි අද්දැකීම්
- (v) සමාලෝචනය

(ඊ) මා කියූ හොඳ ම පොත
- (i) හැඳින්වීම
- (ii) අන්තර්ගත දේවල්
- (iii) කියවීමෙන් ලැබූ සතුට
- (iv) පොත් කියවීමේ අගය
- (v) සමාලෝචනය

(උ) ගංවතුරක් ඇවිත්
- (i) හැඳින්වීම
- (ii) ගංවතුරක් ඇති වීමට හේතුව
- (iii) සිදු වුණු අලාභ
- (iv) ගම්වැසියන් කළ දේවල්
- (v) සමාලෝචනය

[ 6 වැනි පිටුව බලන්න / பக். 6 ஐப் பார்க்க / *see page six*

**2.** දී ඇති පින්තූරය බලා, ඒ ඇසුරින් අර්ථවත් වාක්‍ය **පහක්** ගොඩනගන්න.
(වාක්‍යයක අවම වශයෙන් වචන **හතරක්වත්** තිබිය යුතු ය.)
தரப்பட்டுள்ள படத்தை அடிப்படையாகக் கொண்டு கருத்துள்ள **ஐந்து** வாக்கியங்கள் எழுதுக.
(ஒரு வாக்கியத்தில் குறைந்தபட்சம் **நான்கு** சொற்களாவது இருத்தல் வேண்டும்.)
Compose **five** meaningful sentences with reference to the given picture.
(There should be at least **four** words in a sentence).



## II කොටස / பகுதி II / Part II

- අංක **3** හා **4** යන ප්‍රශ්නවලින් **එකකට** පමණක් උත්තර සපයන්න.
**3** ஆம் **4** ஆம் வினாக்களுள் ஏதேனும் **ஒரு** வினாவுக்கு மாத்திரம் விடை எழுதுக.
Answer only **one** question from questions No. **3** and **4**.

**3.** පහත සඳහන් කවි පෙළ කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் கவிதையை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following poem and answer the questions given.

නිතර ම සවන දුන් බණ දම් ඇසීමට
'හේවාරාල' හොඳ ගොවියෙකි හැබෑවට
කවුරුත් කැමති වචනේ පිළි ගැනීමට
ඔහු වැඩිමහල්ලෙකි වැලිමුව පොතානට

ඔහුගේ මී හරක් කයියට අයිති වන
හතළිස් පහක් වන ගවරැළ ළගින තැන
ලස්සන ඇහැළ ගස් සෙවණින් සෙවණ දෙන
බිම්කඩ ගාල විය ඉනිවැට අගුළ ලන

(i) මෙහි සඳහන් හේවාරාලගේ රැකියාව කුමක් ද?
(ii) හේවාරාල ජීවත් වූයේ කොහේ ද?
(iii) හේවාරාලට සිටි මී හරක් ගණන කීය ද?
(iv) ගවගාලට සෙවණ ලැබුණේ මොනවායින් ද?
(v) 'ස්ථානය' යන්න වෙනුවට කවියේ යෙදී ඇති වචනය කුමක් ද?

[ 7 වැනි පිටුව බලන්න / பக். 7 ஐப் பார்க்க / *see page seven*

**4.** පහත දැක්වෙන පාඨය කියවා, අසා ඇති ප්‍රශ්නවලට උත්තර ලියන්න.
பின்வரும் உரைப்பகுதியை வாசித்து, கேட்கப்பட்டுள்ள வினாக்களுக்கு விடை எழுதுக.
Read the following announcement and answer the given questions.

අපේ ගෙදර ''ටිකිරි කොටුව'' නමින් එළවළු කොටුවක් ඇත. එය කුස්සියේ සිට මීටර් තුන හතරක දුරින් පිහිටා තිබේ. එහි ප්‍රමාණය දිගින් පළලින් මීටර් දහයකට දොළහකට සීමා වේ. රවුම් හැඩයකින් යුක්ත ය. කොටුවේ වටේ ගිනිසීරියා ඉනි වැටකි. ඉනිවැට දිගේ දඹල, මෑ, වැටකොළු, කරවිල ආදී වැල් එතී තිබේ. ඒවා කරලින් බර ය. නිවිති වැලක් ද වරිච්චි බිත්තිය දිගේ ඉදිරියට ඇදෙයි. එහි දම්පාට ඇට පොකුරු පොකුරු ය. ඉනිවැට මායිමේ ගස්ලබු ගස් දෙක තුනකි. ඒවා ගෙඩිවලින් බර ය. ඒ අතර පාට වැටුණු ගස්ලබු ගෙඩි කුරුල්ලන්ට අත වනයි. කඩුල්ල අසල පේර ගසෙහි කුරුල්ලෝ නාද කරති.

(i) 'ටිකිරි කොටුව' පිහිටා ඇත්තේ කුස්සියට කොපමණ දුරින් ද?
(ii) ටිකිරි කොටුව වටේට ඇත්තේ කුමක් ද?
(iii) දම්පාට ඇට පොකුරු පොකුරු ඇත්තේ කුමන වැලක ද?
(iv) කුරුල්ලන් නාද කරන්නේ කොහේ සිට ද?
(v) ටිකිරි කොටුවේ ඇති එළවළු වර්ග **හතරක්** ලියන්න.

## III කොටස / பகுதி III / Part III

- අංක **5** හා **6** යන ප්‍රශ්න **දෙකට ම** උත්තර සපයන්න.
**5, 6** ஆகிய **இரண்டு** வினாக்களுக்கும் விடை எழுதுக.
Answer **both** questions No. **5** and **6**.

**5.** පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන අයදුම්පතක් සකස් කරන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு விண்ணப்பப்படிவமொன்றைத் தயாரிக்குக.
Prepare an application form based on the following details.

දිවයිනේ ප්‍රකට වෙළෙඳ ආයතන ජාලයකට මුදල් අයකැමිවරුන් බඳවා ගැනීම සඳහා පහත සඳහන් සුදුසුකම් සපුරා ඇති ශ්‍රී ලාංකේය පුරවැසියන්ගෙන් අයදුම්පත් කැඳවනු ලැබේ.

✳ වයස අවුරුදු 25-30 අතර වීම
✳ සිංහල/දෙමළ භාෂාව සහ ගණිතය විෂයයන්ට සම්මාන සාමර්ථ්‍ය සහිත ව අ.පො.ස.(සාමාන්‍ය පෙළ) සමත් ව තිබීම
✳ අ.පො.ස.(උසස් පෙළ) සමත් ව තිබීම
✳ පිළිගත් ආයතනයක පරිගණක පාඨමාලාවක් හදාරා තිබීම
✳ අවුරුදු දෙකක සේවා පළපුරුද්දක් තිබීම

ඉහත සුදුසුකම් සපුරා ඇති ඔබ රත්නායක මුදියන්සේලාගේ අසේල සම්පත් යැයි සිතන්න.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත දැක්වෙන තොරතුරු පදනම් කර ගෙන ප්‍රාදේශීය ලේකම් වෙත යැවීමට සුදුසු රාජකාරී ලිපියක් ලියන්න.
பின்வரும் விடயங்களைக் கருத்திற்கொண்டு பிரதேச செயலாளருக்கு உத்தியோகபூர்வ கடிதமொன்றை எழுதுக.
Based on the following facts write an official letter to be sent to Divisional Secretary.

කසළ ඉවත් කිරීම සම්බන්ධයෙන් ඔබේ ගමෙහි ගැටලුවක් පවතී.

✳ කසළ බැහැර කිරීමේ විධිමත් ක්‍රමවේදයක් නොමැති වීම
✳ මැසි මදුරුවන් බෝවීමේ ප්‍රවණතාවක් දක්නට ලැබීම
✳ බාල, මහලු, තරුණ පිරිස් ලෙඩ රෝගවලට ගොදුරු වීම
✳ කසළ බැහැර කිරීමේ ක්‍රමවේදයක් යෝජනා කිරීම
✳ ගැටලුව විසඳා ගැනීම සඳහා ප්‍රාදේශීය ලේකම් වෙත කරන ඉල්ලීම
(ඔබ සම්පත් අලහකෝන් යැයි සිතන්න.)

[ 8 වැනි පිටුව බලන්න / பக். 8 ஐப் பார்க்க / *see page eight*

**6.** පහත දැක්වෙන දෙමළ / ඉංග්‍රීසි වාක්‍ය **සිංහලට** පරිවර්තනය කරන්න.
கீழே தரப்பட்டுள்ள தமிழ் / ஆங்கில வாக்கியங்களை **சிங்களத்தில்** மொழிபெயர்க்க.
Translate the following Tamil / English sentences into **Sinhala**.

(i) தினந்தோறும் உடற் பயிற்சி செய்தல் ஒரு நல்ல பழக்கமாகும்.
Daily exercise is a good habit.

(ii) எனது அம்மா எங்களுக்கு சுவையான உணவு தயாரிப்பார்.
My mother prepares delicious food for us.

(iii) நாங்கள் எங்கள் பட்டங்களோடு விளையாட்டு மைதானத்திற்கு ஓடினோம்.
We ran to the playground with our kites.

(iv) எனது சகோதரர் வார இறுதி நாட்களில் வீட்டுக்கு வருவார்.
My brother comes home for the weekend.

(v) மாலாவிற்கு அவளது பிறந்த நாளுக்காக ஒரு அழகான ஆடை அன்பளிப்பாகக் கிடைத்தது.
Mala was gifted a beautiful dress for her birthday.

**නැතහොත්**
**அல்லது**
**Or**

පහත සඳහන් තොරතුරු පදනම් කර ගෙන සංවාදයක් ලියන්න. (වාක්‍ය **10ක්** ප්‍රමාණවත් වේ.)
பின்வரும் தகவல்களை அடிப்படையாகக் கொண்டு உரையாடல் ஒன்று எழுதுக. (10 வாக்கியங்கள் போதுமானவை.)
Write a dialogue based on the following information. (10 sentences are enough.)

කොහු කර්මාන්තය ආශ්‍රිත නව නිෂ්පාදන හඳුන්වා දීමේ ව්‍යාපෘතියක් පිළිබඳව ඔබ ගමේ ග්‍රාම සංවර්ධන සමිතියට දැන ගන්නට ලැබෙයි. මෙය ස්වයං රැකියාවක් ලෙස රැකියා විරහිත තරුණ තරුණියන් අතර ප්‍රචලිත කිරීමට සුදුසු බව ග්‍රාම සංවර්ධන සමිතිය අදහස් කරන බැවින්, ඒ පිළිබඳ වැඩිදුර තොරතුරු ලබා ගැනීමට අදාළ ව්‍යාපෘති නිලධාරියා සමග සමිතියේ ලේකම්තුමා කරන සංවාදය ලියන්න. ඒ සඳහා පහත සඳහන් කරුණු උපයෝගී කර ගන්න.

- ව්‍යාපෘති නිලධාරියා මුණගැසීම හා සුබ පැතීම
- අදාළ කරුණු පිළිබඳව තොරතුරු සාකච්ඡා කිරීම
- සමුගැනීම

***